ආලෝක ස්වරූපී වූ ආයුශ් ශාස්ත්‍රය හා රෝග දර්ශනය සඳහා ඇස වැනි වූ ස්වකීය වූ බුද්ධිය යන දෙක විවේචනය පෙරටු ව යොද චිකිත්සා කරන්නා වූ වෛද්‍යවරයා අපරාධ කරන්නෙක් නො වන්නේ ය.

18. ඖෂධ (ද්‍රව්‍ය) ආදි පාද තුන චිකිත්සා කාර්යය පිළිබඳ ව වෛද්‍යවරයා ආශ්‍රය කොට රෝග ශාන්තියට කාරණ වේ. එහෙයින් ශාස්ත්‍රඥනාදි ස්වකීය ගුණ සතර ලැබීම සඳහා වෛද්‍යවරයා විශේෂයෙන් උත්සාහ කටයුතු ය.

## වෘත්තියෙහි ප්‍රභේද

19. පීඩිත රෝගීන් කෙරෙහි මෛත්‍රිය හා කරුණාව ද, සාධ්‍ය රෝගයන්හි චිකිත්සාව ද, මරණාසන්න රෝගීන් පිළිබඳ ව උපේක්ෂාව හෙවත් චිකිත්සා භාරය (කෙළින් ම) නො ඉසිලීම ද යන විසින් වෛද්‍යවෘත්තිය සිවු වැදෑරුම් වෙයි.

## විෂය සංග්‍රහය

20. බෙහෙත, භිෂක් ආදි චතුෂ්පාදය, එහි (සොළොස් වැදෑරුම්) ගුණ, (පාද අතුරෙහි) වෛද්‍යවරයා ගේ ප්‍රධානත්වය හා ඥනය, වෛද්‍යවරයා ගේ (මෛත්‍රී, කරුණා, ප්‍රීති, උපේක්ෂා යන) චතුර්විධ බ්‍රාහ්මීබුද්ධිය යන සියල්ල මෙම ඛුඩ්ඩාක-චතුෂ්පාද අධ්‍යායයෙහි ලා මැනවින් ප්‍රකාශ කරනලදී.

# 10. අධ්‍යායය

1. (i) මංගල්‍යයෙක් වේ වා! මින් පසු අපි, මහාචතුෂ්පාද නම් අධ්‍යායය ව්‍යාඛ්‍යා කරන්නෙමු.

(ii) භගවත් වූ ආත්‍රෙය ඍෂිවරයා මෙසේ ම කීයේ ය.

## ප්‍රකෘතභේෂජය

2. ෂෝඩශ අංග යුක්ත වූ වෛද්‍යාදි පාද සතර භේෂජ නමැ යි වෛද්‍යවරයෝ කියත්. මින් පූර්ව අධ්‍යායයෙහි සොළොස් 'වැදූරුම් ගුණ සමන්විත වූ යම් පාද සතරක් කියනලද ද, එය ම ප්‍රකෘත භේෂජ වේ. එම ඖෂධ ම යුක්තියුක්ත වූ කල්හි නිසැක ව ම ආරෝග්‍යදනය පිණිස ප්‍රමාණවත් වෙතැ යි භගවත් වූ අත්‍රිපුත්‍ර පුනර්වසු මහර්ෂි තෙම කීයේ ය. එනමුත් එය නො පිළිගත් මෛත්‍රෙය මුනිවරයා එය එසේ නො වේ ය යි කී ය. කරුණු කිම් ද යත් : ස්මෘතිනිදේශකත්‍වාදි ගුණ විශිෂ්ට වූ ද, යෝග්‍ය ඖෂධ හා පරිචාරකයන් ඇත්තා වූ ද, අප්‍රමත්ත වූ බොහෝ රෝගීන්; ගුණවත් වූ වෛද්‍යවරයන් ගේ ප්‍රතිකාරවලින් සුවයට පත් වන අතර ම, එසේ යුක්ත වූ බොහෝ තන්හි රෝගීන් මරණයට පැමිණෙන බව ද දක්නා ලැබේ. එහෙයින් බෙහෙත කිසිවක් නො කරනසුලු වෙයි. ඒ මෙසේ යි :— ජලයෙන් තොරවූ හිස් තැනකට (වළකට) හෝ දියෙන් පිරුණු පොකුණකට දිය ස්වල්පයක් දැමීමෙන් ද, ගලා බහින ගඟකට නැත හොත් විශාල පස්ගොඩකට පස් මිටක් දැමීමෙන් ද කිසි ප්‍රයෝජනයක් නො වන්නාක් මෙනි. එසේ ම ඖෂධ නො ලබන්නා වූ ද, පරිචාරකයන් නොමැත්තා වූ ද, ලෝභයට වසඟ ව පථ්‍ය සේවනය පිළිබඳ නියමය නො පිළිපදනා වූ ද, අදක්ෂ වෛද්‍යයන් විසින් ප්‍රතිකාර කරනුලැබුවා වූ ද සමහර රෝගීන් සුව වනු දක්නාලැබේ. එසේ ම බොහෝ රෝගීහු ෂෝඩශ ගුණ යුක්ත පාද චතුෂ්ටය ඇත ද මරණයට පැමිණෙත්. තවද, පිළියම් කළත් සමහරු නීරෝග වෙත්, සමහරු මැරෙත්. පිළියම් නො කළත් සමහරු සුවය ලබත්, සමහරු මැරෙත්. කරුණු මෙසේ හෙයින් භේෂජ අභේෂජ යන දෙක ම එක සමාන යයි සිතේ.

## පිළිතුර

එය ට පිළිතුරු දුන් මහර්ෂි ආත්‍රෙය මෙසේ කී ය. මෛත්‍රෙය! ඔබ වරදවා සිතන්නෙහි ය. ෂෝඩශ ගුණ යුක්ත වූ මේ භේෂජයන් ගෙන් ඇතැම් රෝගීහු මරණයට පැමිණෙතැ යි ඔබ කියන කියුම යුක්තියුක්ත නො වේ. මක්නිසා ද යත්:—බෙහෙදින් සුව කටහැකි රෝග සම්බන්ධයෙන් බෙහෙද කිසි විටෙකත් අකාරණ (නිෂ්ඵල) නොවේ[1]. නැවත යම් ආතුරයෙක් හුදෙක් සම්පූර්ණ වූ ඖෂධවලින් තොර ව (ඉබේ) නීරෝග වේ ද, එ බඳු තන්හි අවබෝධ කටයුත්තේ ඔහු ගේ ඒ රෝගය භේෂජයන් ගෙන් අන්‍ය වූ උපායවලින් සංසිඳවිය හැකි නිදාන විශේෂයන් ගෙන් ඉපදී ඇති බව ය. යම් සේ වැටුණාවූ පුරුෂයා, නැගිටීමට සමර්ථ වුවත්, අනෙකෙකු ගේ උදව්වෙන්-බල ලැබ පහසුවෙන් හා ඉක්මනින් නැගිටී ද, එසේ ම සාධ්‍ය රෝගයන් ගෙන් පෙළෙන්නාවූ ආතුරයෝ බෙහෙත් නොමැති ව ලෙඩින් මිදීමට සමර්ථ වුවත්, සම්පූර්ණ වූ ඖෂධ කරණ කොට ගෙන නො විඩා ව වහා රෝගයන් ගෙන් මිදෙන්නාහ. තවද සම්පූර්ණ භේෂජයන් ගෙන් වුවත්, යම් රෝගී කෙනෙක්

---

[1] සොළොස් වැදැරුම් ගුණ යුක්ත වූ පිළියමින් ප්‍රතිකාර කොටත් සුව නො ලබන්නා වූ තැනැත්තෝ වනාහි අසාධ්‍යරෝග පීඩිතයෝ වෙත්.

රෝගමුක්ත නො ව මැරෙන්නාහු ද, ඒ සියල්ලෝ ම භෛෂජසාධ්‍ය රෝගයන් ගෙන් පෙළෙන්නාහු නො වෙත්. සියලු ම රෝග උපායසාධ්‍ය (භෛෂජසාධ්‍ය) නො වන හෙයිනි. එහෙයින් එ බඳු රෝගයෝ භෙෂජවලින් කටයුතු ප්‍රතිකාර රහිතයෝ වෙත්. උපායසාධ්‍ය ව්‍යාධීහු උපායයෙන් තොර ව නො සංසිඳෙත්. අසාධ්‍ය රෝගයන්ට ද බෙහෙත් නොමැත්තේ ය. ප්‍රාඥ වෛද්‍යවරයා වුව ද, මරණාසන්න රෝගියාට ආරෝග්‍යදානයෙහි අසමත් වන්නේ ය. පරීක්‍ෂා කොට හෙවත් සාධ්‍යාසාධ්‍ය භාවයන් විශේෂයෙන් සලකා බලා ප්‍රතික්‍රියායෙහි යෙදෙන්නා වූ වෛද්‍යවරයෝ සිද්ධි ලාභයෙහි සමර්ථ වෙත්[1]. ධනුර්විද්‍යායෙහි නිතර අභ්‍යාසය ඇති, ශර සන්ධානයෙහි දක්‍ෂයෙක් දුන්න ගෙන ඊය යොදා නුදුරු ව පිහිටි විශාල වස්තුවකට විදින්නේ, විඵල වූ ඉලක්කය ඇත්තෙකු නො වී අභිප්‍රේත කාර්යය සම්පාදනය කරන්නේ යම් සේ ද, එසේ ම ශාස්ත්‍ර කථිත නියම ගුණවත් උපකරණ සහිත වූ වෛද්‍ය තෙමේ ද, සාධ්‍යාසාධ්‍යතාදිය පරීක්‍ෂා කොට ක්‍රියාරම්භ කරන්නේ, සාධ්‍ය රෝගයට ප්‍රතිකාර කිරීමෙන්, රෝගියා නිශ්චිත වශයෙන් ම ආරෝග්‍යයට පමුණුවන්නේ, අපරාධකාරයෙක් නො වන්නේ ය. එහෙයින් භේෂජ අභේෂජ දෙක කිසි කලෙකත් තුල්‍යඵල නො වේ ම ය.

## සැලකිය යුත්තක්

3. අපි ව්‍යාධිවිපරීත වූ භේෂජයෙන් පිළියම් කරමු නම්, මතු පැවසෙන මේ මේ කරුණු ද අපට ප්‍රත්‍යක්‍ෂ වෙයි. ක්‍ෂීණ, කෘශ, දුර්වල තැනැත්තා පෝෂණ ඖෂධවලින් සන්තර්පිත කරමු. ස්ථූල මේදස් බහුල තැනැත්තා අභෝජන, ලඞ්ඝනාදියෙන් අපතර්පණය කරමු. උෂ්ණයෙන් තැවුණවුන් ශීතල ක්‍රියාවෙන් ද, ශීතපීඩිතයා උෂ්ණ ක්‍රියාවෙන් ද චිකිත්සා කරමු. ක්‍ෂීණ ධාතූන් පූරණය කොට, වැඩි වූ ධාතූන් අඩු කරමු. රෝග විපරීත ඖෂධයන් ගෙන් ආතුරයන්ට චිකිත්සා කරන්නාක්මෙන් ම ව්‍යාධිහු ගේ හේතු විපරීත ඔසුවලින් ද, එසේ ම රෝගයට ප්‍රතිකාර කොට රෝගියා යහපත් ප්‍රකෘතියෙහි පිහිටුවමු. එහෙයින්, එසේ කරනු ලබන්නේ ක්‍ෂීණ ආදීන් පිළිබඳ ව කියනලද ඖෂධ සියල්ල අපට ඒකාන්තයෙන් කාන්තතම ම ය[2].

## මතාන්තර

4. සාධ්‍යාසාධ්‍ය විභාග දන්නා වෛද්‍ය තෙම, උපයුක්ත කාලයෙහි ඥානය පෙරදැරි කොට, චිකිත්සාව ආරම්භ කරයි නම්: හෙතෙම ඒකාන්තයෙන් එය සිද්ධ කරයි හෙවත් රෝගප්‍රශමනයෙහි සමර්ථ වෙයි.

5. යම් චිකිත්සකයෙක් අසාධ්‍ය රෝගයන්ට ප්‍රතිකාර කරයි ද, ඔහු ගේ ධන-ලාභාදි ස්වාර්ථය සහ පාණ්ඩිත්‍යය ද, කීර්තිය ද හානියට පැමිණේ. ලෝකයා ගේ අපවාදයට ද භාජන වේ. චිකිත්සා කර්මය පිළිබඳ ව කිසිවෙක් ඔහු නො කැඳවයි.

6. සාධ්‍ය රෝගය සුඛසාධ්‍ය, කෂ්ටසාධ්‍ය යන විසින් ද, අසාධ්‍ය රෝගය යාප්‍ය, ප්‍රත්‍යාඛ්‍යෙය (ප්‍රතික්ෂෙප කටයුතු) යන විසින් ද දෙවැදෑරුම් වෙයි.

---

[1] සාධ්‍ය රෝගීන් ගේ චිකිත්සාභාර ග්‍රහණය සහ අසාධ්‍ය රෝගීන් ප්‍රතික්ෂෙප කිරීම සිද්ධියට භාජන වීමට හේතු වේ.

[2] යම් හෙයකින් භේෂජ සමූහය නැ තද, ශුභ වූ දෛවය, ආතුරයා ලෙඩින් මිදීමට සමත් වුවත්, එය ඒකාන්තතම නො වේ. ඒ කෙසේ ද ? ශීතයෙන් පීඩිතයන්ට ගිනි රශ්මිය, අව්ව, ස්ථූල වස්ත්‍රාදිය ශීත නිවාරණයට යම් සේ කාන්තතම ද, හුදෙක් ශුභ වූ දෛවය එසේ නො වන්නාක් මෙනි.

7. සාධ්‍ය රෝග පිළිබඳ විකල්පනා ත්‍රයයෙක් වේ. අල්පසාධ්‍යත්‍ව, මධ්‍යසාධ්‍යත්ව, උත්කෘෂ්ටසාධ්‍යත්‍ව යන විසිනි. නියත අසාධ්‍ය රෝගයන් පිළිබඳ විකල්පනයෙක් නැත්තේ ය[1].

## සුඛසාධ්‍ය ලක්‍ෂණ

8. යම් රෝගයක උත්පත්ති හේතුව ස්‍වල්ප වේ ද, ඉපදීමට පෙර පහළ වන පූර්වරූපයෝත් ඉපදීමෙන් පසු ඇති වූ රූපයෝත් ස්‍වල්ප වෙත් ද, රස රක්තාදි දූෂ්‍ය පදර්‍ථයෝත් රෝගාරම්භක වාතාදි දෝෂයන් හා සමාන ගුණ නො වෙත් ද, ආරම්භක වාතාදි දෝෂ සමූහය ඒ රෝගියා ගේ නිජ ප්‍රකෘතියත් නොවේ ද, එසේ ම ශීතෝෂ්ණාදි කාලයාගේත් සමාන ගුණ නැත්තේ ද, රෝගය යම් දේශයක දී උපන් කල්හි පිළියම් දුෂ්කර නම් එබඳු දේශයකුත් නො වේ ද, රෝගය ඒක මාර්‍ග (රෝගයා ගේ ගතිය එක ම මාර්‍ගයක) වේ ද, රෝගය නො පැරණි ව උවදුරු රහිත වේ ද, රෝගය එක ම දෝෂයකින් හටගත්තේ වේ ද, රෝගියා ගේ දේහය සියලු ඖෂධකර්‍ම (වමන, විරේචනාදිය) ඉවසීමෙහි සමත් වේ ද, චිකිත්සාවත් භිෂගාදි චතුෂ්පාද සමන්විත වූයේ ද, එකල්හි ඒ සියල්ල රෝගයාගේ සුඛසාධ්‍ය ලක්‍ෂණ ය යි දැන ගන්නේ ය.

## කෘච්ඡ්‍රසාධ්‍ය ලක්‍ෂණ

9. රෝගයාගේ නිදාන, පූර්වරූප, රූප යන මේවා පිළිබඳ බලය මධ්‍ය (නො වැඩි, නො අඩු) වේ ද, ශීතෝෂ්ණාදි කාල, වාතාදි ප්‍රකෘති, රසාදි දූෂ්‍ය යන මොවුන් අතුරින් එකක් හෝ රෝගාරම්භක වාතාදි දෝෂයන් සමඟ සමාන ගුණ යුක්ත වේ ද, එකල්හි ඒ රෝගය කෘච්ඡ්‍රසාධ්‍ය යයි දන්නේ ය. ගර්භිණී, වෘද්ධ, බාල යන මොවුන් පිළිබැඳි, අල්ප උපද්‍රවයන් ගෙන් යුක්ත වූ රෝගය ද කෘච්ඡ්‍රසාධ්‍ය වෙයි. එසේ ම ශස්ත්‍ර, ක්‍ෂාර අග්නිකර්‍ම සාධ්‍ය රෝගයෝ ද, බොහෝ පුරාතන වූ රෝගයෝ ද, මර්‍ම, සන්ධි ආදි ස්ථානයක හටගත් රෝගයෝ ද කෘච්ඡ්‍රසාධ්‍යයහ. රෝගය ඒකමාර්‍ගගත වුව ද, භිෂගාදි පාද සතර සම්පූර්ණ ගුණවත් නුවූයේ නම්, ඒ ඒකමාර්‍ගගත රෝගය ද කෘච්ඡ්‍රසාධ්‍ය වන්නේ ය. ද්විමාර්‍ගගත වූ ද, ද්විදෝෂජ වූ ද, ඉපද වැඩිකලක් ගත නොවූ ද රෝගයත් කෘච්ඡ්‍රසාධ්‍ය ය යි දන්නේ ය.

## යාප්‍ය, අසාධ්‍ය, ලක්‍ෂණ

10–11. යම් අසාධ්‍ය රෝගයක් පථ්‍යසේවනය කරණ කොට ගෙන ස්‍වල්ප සැපයක් හෙවත් එවේලාවට පමණක් සුවයක් ලැබ, ස්‍වල්ප වූ හේතුවකින් නැවතත් එළඹේ ද, එසේ ම රෝගියා ගේ ආයුෂත් ඉතිරි වැ ඇත්තේ ද, එවිට ඒ රෝගය යාප්‍ය ය යි දන්නේ ය. යම් රෝගයක් මේදස් ආදි ගම්භීර ධාතුගත හෝ රසරක්තාදි බොහෝ වූ ධාතුගත ද, මර්‍ම හා සන්ධිස්ථාන ආශ්‍රිත ද, නිරන්තරයෙන් අනුබන්ධ

---

[1] බොහෝ වූ ශමන උපායයන් ගෙන් සංසිඳෙන රෝගය අල්පසාධ්‍ය නමි. අඩු වැඩි නුවූ ශමන උපායයෙන් සංසිඳෙන රෝගය මධ්‍යමසාධ්‍ය නම් වේ. ස්‍වල්ප වූ ශමන ක්‍රියාවන් ගෙන් සංසිඳෙන්නේ උත්කෘෂ්ටසාධ්‍යරෝග නමි. සාධ්‍ය හා කෘච්ඡ්‍රසාධ්‍ය රෝග මෙකී පරිදි තුන් වැදැරුම් ය. උපාය භේදයෙන් යාප්‍ය රෝග ද ත්‍රිවිධ බව දත යුතු ය. එනමුත් අසාධ්‍ය රෝගයෙහි එබඳු කල්පනා නැත.

වේ ද, දීර්ඝ කාලයක් පැවතියේ ද, ත්‍රිදෝෂජත් වේ ද, එබඳු රෝගයන් යාප්‍ය ය යි දන්නේ ය. එනමුත් ත්‍රිදෝෂජ රෝගයක් මෙකී අවස්ථාවන් ගෙන් යුක්ත වූයේ නම්: එය අසාධ්‍ය වෙයි. යම් රෝගයක් චිකිත්සාව ඉක්මවා ගියේ ද, ඌර්ධ්ව අධඃ තිර්‍ය්‍යක් යන සියලු මාර්ග ගත වී ද, එසේ ම ඖත්සුක්‍ය, අස්ථිරචිත්තතා යන මේවා උපදවන අතර ම ඉන්ද්‍රියනාශකත් වේ ද එය අනුපක්‍රම (ප්‍රතික්ෂෙප කටයුතු) රෝගයෙකැ යි දන්නේ ය. තවද දුර්වලයා ගේ අතිශයින් වැඩුණු රෝගයට හා අරිෂ්ට ලක්ෂණ සහිත වූ රෝගයට ද පිළියම් නො කටයුත්තේ ය.

## පිළියම් ඇරඹීම

12–13. බුද්ධිමත් වෛද්‍යවරයා විසින් පළමු ව රෝගයන් ගේ සාධ්‍යාසාධ්‍ය ලක්ෂණ සියල්ල පරීක්ෂා කොට, ඉන් පසු සාධ්‍ය රෝගය පිළිබඳ චිකිත්සාව ආරම්භ කටයුතු යි. සාධ්‍යාසාධ්‍ය විභාග දන්නාවූ ද, විකල්පාදි බුද්ධි (ප්‍රතිපත්ති) ඇත්තාවූ ද වෛද්‍යවරයා, මෛත්‍රෙය වැන්නවුන් මෙන් මිථ්‍යා අදහස් නො වඩන්නේ ය; හෙවත් භේෂජාභේෂජයන් ගේ සමාන ගුණ නො සිතන්නේ ය.

## අධ්‍යායාර්ථ සංග්‍රහය

14. සොළොස් වැදෑරුම් ගුණ යුක්ත චතුෂ්පාද ස්වරූප වූ ඔසු ද, පාදගුණ හා භේෂජාශ්‍රය කොට ඇති ප්‍රභාව ද, ආත්‍රෙය මෛත්‍රෙය යන ඍෂිවරයන් ගේ මත, මතභේද, විතර්ක හා සිද්ධාන්ත ද, රෝගයන් ගේ සුඛසාධ්‍යාදි සිවු වැදෑරුම් විකල්ප හා ඔවුන් ගේ ස්වලක්ෂණ ද යන මේ සියල්ල මෙම මහාචතුෂ්පාද නම් අධ්‍යායයෙහි ලා කියනලදි. මෙම සියලු විෂයයන්හි දැනීම ඇති වූ කල්හි පිළියම් පිළිබඳ සාඵල්‍යය ඇති වේ.

# 11. අධ්‍යායය

1. (i) යහපතෙක් වේ වා ! මින් මතු අපි, තිස්‍රෛෂණීය නම් අධ්‍යායය ප්‍රකාශ කරන්නෙමු.

(ii) භගවත් ආත්‍රෙය මහර්ෂි තෙම මෙසේ කීයේ ය.

## ප්‍රාරම්භ ඒෂණාව

2. මෙහි විනාහි, නො නැසුණාවූ චිත්තය, බුද්ධිය, දේහබලය හා චිත්තබලය යන මේවා ඇත්තාවූ යම් පුරුෂයෙක් මෙලොව හා පරලොව හිත කැමැත්තේ ද ඔහු විසින් ඒ ගැන කළ යුතු කරුණු තුනෙක් ඇත. එනම් :—ප්‍රාණෛෂණා (සැප පහසු ඇති ව දීර්ඝකාලයක් ජීවත් වීමට සෙවීම-අභිලාෂය), ධනෛෂණා (ධනය ලැබීමට සෙවීම), පරලෝකෛෂණා (පරලොව උතුම් සැප ලැබීමට සෙවීම-ආශාව) යන මේ යි. තුන්වැදෑරුම් ඒෂණා (සෙවීම්, අභිලාෂ) අතුරින් සියල්ලට පළමු ව ප්‍රාණෛෂණාව ගැන උත්සාහ කළ යුතුයි; ප්‍රාණය පහ කිරීමෙන් සියල්ල ම නැති වන හෙයිනි (එහෙයින් බොහෝ කාලයක් සුඛිත මුදිත ව විසීමට අවශ්‍ය දේ පළමු කොට ම කටයුතු යි). ඒ ප්‍රාණයාගේ අනුපාලනය විවිධ වේ; නීරෝග තැනැත්තාගේ ස්වාස්ථ්‍යය ආරක්ෂා කිරීම හා රෝගියා ගේ රෝගප්‍රශමනයෙහි අප්‍රමාද භාවය යන විසිනි. මේ දෙවැදෑරුම් ප්‍රාණානුපාලනය මින් පෙරත් කියන ලදි. එසේ ම මුළු ග්‍රන්ථයෙහි ම ව්‍යාඛ්‍යා ද කරනු ලැබේ. කියනලද විධානානුසාරයෙන් මේ දෙක යමෙක් පාලනය කෙරේ ද, හෙතෙම ප්‍රාණානුපාලන හේතුවින් දීර්ඝායුෂ ලබයි. ප්‍රථම ඒෂණාව මෙසේ ව්‍යාඛ්‍යා කරනලදි.

## ද්විතීය ඒෂණාව

3. අනතුරු ව, දෙවැනි වූ ධනෛෂණාව වර්ණනා කරන්නෙමු: ප්‍රාණෛෂණාවෙන් පසු ව ධනෛෂණාව කළ යුතු වෙයි[1], ධනෝපාර්ජනය පිළිබඳ උපායයෝ මෙසේ වෙත් :— කෘෂිකර්මය, පශු (ගවාදි) පාලනය, වෙළඳාම, රාජසේවය යන ආදිය ද, ජීවිතය පවත්වා ගැනීම හා ධනපෝෂණය හා දෙක ම සඳහා වන්නාවූත් සත්පුරුෂයන් විසින් ගර්හා නො කරනලද්දවූත් අන්‍යතර විෂයය (රැකී රක්ෂාව) න් ද ධනය සැපයීමෙහි ලා උපායයන් බව දැන ගන්නේ ය. එසේ ම එකී උපායයන්හි එල්බ ධනය රැස් කරන්නේ ය. මෙසේ ධනය උපයා ගෙන දීර්ඝ කාලයක් ජීවත් වන තැනැත්තේ දිවිහිමියෙන් අනුන්ට යටත් නො වී හෙවත් අන්‍යයන් විසින් බුහුමන් කරන්නකු ව කාලය ගත කරන පුරුෂයෙක් වෙතැ යි දන්නේ ය. මෙසේ දෙවැනි ධනෛෂණාව ව්‍යාඛ්‍යා කරන ලද්දේ වෙයි.

## තෘතීය ඒෂණාව

4. දැන් තුන්වැනි වූ පරලෝකෛෂණාව වර්ණනා කරනු ලැබේ. මෙම පර ලෝක විෂයයෙහි බොහෝ දෙනාට සැක ඇත්තේය, හෙවත් මෙලොවින් චුත ව (මැරී) නැවත උපදින්නේ කුමක් නිසාද? නූපදින්නේ හෝ කුමක් නිසා ද? යන මෙ වැනි සැක බොහෝ දෙනාට ඇති වෙයි. නැවත මෙ බඳු සැක කෙසේ ඇති වේ දැයි කියනු ලැබේ :—

ඇතැම් මුනිවරයෝ ප්‍රත්‍යක්ෂවාදීහු ය, ප්‍රත්‍යක්ෂ දෙය ම එක ම ප්‍රමාණය (පිළිගතයුත්ත) කොට සලකන්නාහු ය. අනුමානාදි සෙසු දේ ප්‍රාමාණ්‍ය කොට

[1] සැප, නීරෝග බව, ධර්ම, පරිභෝග යන මොවුන්ට ධනය ම සාධක හෙයිනි. ධනහීනයා ගේ දීර්ඝ වූ ජීවනය යම් බඳු පාපයක් (දුක් දෙන්නක්) ද, එබඳු පාපයට වඩා අධිකතර දෙවැනි පාපයක් මෙලොව නැත්තේ ය. එහෙයින් ධනය සැපයීමෙහි වෙසෙසින් උත්සාහවත් වන්නේ ය.

නො සලකන්නාහු ය. පුනර්ජන්මය (නැවත ඉපදීම) ඇසට පෙනෙන ප්‍රත්‍යක්‍ෂ විෂයයක් නොවන හෙයින් එකී ප්‍රත්‍යක්‍ෂවාදී (ඇසට පෙනෙන දේ ගැන පමණක් විශ්වාසය හෝ පිළිගැනීම ඇති) ඒ ඍෂිවරයෝ නාස්තික දෘෂ්ටිය (මෙලොව-පරලොව නැත, කර්‍මඵල නැත යනාදි ඇදහීම) අවලම්බනය කරන්නාහු ය. නැවත තවත් සමහර ඍෂිවරයෝ තුමූ, ආප්තෝපදේශයෙන් හා ශාස්ත්‍රානුසාරයෙන් නිබඩ දැ පිළිගත යුතු ය යි සලකන්නාහු පුනරුත්පත්තියක් ඇති බව ශ්‍රැතිභේදයෙන් පිළිගැනීමට කැමැති වෙත්. ඇතැමෙක් මව් පිය දෙදෙනා ම ඉපදීමට කාරණ ය යි ද, ඇතැමෙක් ස්වභාවය ජන්මකාරණය යි ද සිතත්. තවත් සමහර කෙනෙක් පර නිර්‍මාණය ම (හෙවත් යම් කිසි ප්‍රකට මවන්නකු ගේ මැවීම ම) පුනරුත්පත්තියට කාරණ ය යි කියත්. එසේ ම මැවීමට කිසි කර්‍තෘවරයෙක් නැත, තමන් කැමැති පරිදි මැවිනැ යි ද අන් සමහරු පවසත්. මෙ බඳු විවිධ මතභේද හේතු කොට ගෙන පුනර්ජන්මය නිශ්චය වශයෙන් ඇත්තේ ද, නැත්තේදැ යි සැක කරත්.[1]

## වැදගත් කරුණක්

බුද්ධිමත් තැනැත්තේ නාස්තික බුද්ධිය ද, පරලෝක විෂයයෙහි සැකය ද අත් හරින්නේය[2]. මෙලොව ප්‍රත්‍යක්‍ෂ දෑ අල්ප ය, එනමුත් ශාස්ත්‍රය, අනුමානය, යුක්තිය යන මොවුන් ගෙන් අවබෝධ වන අප්‍රත්‍යක්‍ෂ දෑ බෙහෙවක් ඇත්තේ ය. ඇස් ආදි වූ ඉන්ද්‍රියයන් ගෙන් යමෙකුට ප්‍රත්‍යක්‍ෂ කටහැකි දේ ඇතත්, ඒ චක්‍ෂු-රාදිය ම ඔහුට අප්‍රත්‍යක්‍ෂ යැ[3].

ඉතා සමීපයෙහි වූ ද, බොහෝ ඈත් හි වූ ද දේ බෙහෙවින් ප්‍රත්‍යක්‍ෂ නොවේ.[4] යමෙකින් වැසී ඇති දෙය ද ප්‍රත්‍යක්‍ෂ නොවෙයි. චක්‍ෂුරාදි ඉන්ද්‍රියයන් දුර්වල වූ කල්හි ද, රූප රසාදිය ප්‍රත්‍යක්‍ෂ නො කට හැක්කේ ය. සිත වෙන අතකට යොමු වූ විට ද ප්‍රත්‍යක්‍ෂ නොවේ.[5] සමාන රූප වීමෙන් ද ප්‍රත්‍යක්‍ෂ නොවෙ යි.[6] දැඩි සූර්යකිරණයෙන් මඩිනාලද තාරකාවෝ ද දහවල් කාලයෙහි අප්‍රත්‍යක්‍ෂයහ. පරමාණු ආදි ඉතා සියුම් වස්තූහු ද ප්‍රත්‍යක්‍ෂ නො වෙත්. එසේ හෙයින් ප්‍රත්‍යක්‍ෂ දෙය ම ඇත, ප්‍රත්‍යක්‍ෂයෙන් පරිබාහිර වූ වෙනත් පිළිගත යුතු දෙයක් නැතැ යි කීම සෝදිසි නොකොට කියන කියුමෙකි. නැවත මව් පිය දෙදෙනාම ඉපදීමට කාරණ ය, ස්වභාවය ම සෘෂ්ටියට කාරණ ය යන මේ මතයෙක් අසන ලද්දේ වේ ද, ඉනුදු පරලොවක් නැතැ යි යන මතය ප්‍රතිෂ්ඨාපනය කිරීමෙහි ලා කරුණක් නැත්තේ ය. යුක්තිවිරල හෙයිනි. එහි යුක්තිවිරෝධය මතු දක්වනු ලැබේ :—

මව් පිය දෙදෙනා ජන්මයට කාරණ වෙත් නම්, (එසේ ම) මව ගේ හෝ පියා ගේ ආත්මය අපත්‍ය (දරු) ස්වරූපයෙන් ජන්මග්‍රහණය කෙරේ නම්: ඒ ආත්මය

---

[1] නාස්තික්‍ය, ආස්තික්‍ය යන දෙපක්‍ෂය අතර ආස්තික්‍ය පක්‍ෂය ම යහපත් යයි පිළිගෙන මෙසේ උපදෙස් දෙනලද්දේ ය.

[2] ප්‍රත්‍යක්‍ෂවාදී මුනිවරයෝ අනුමානාදි සෙසු ප්‍රමාණයන් නො පිළිගෙන ප්‍රත්‍යක්‍ෂය පමණක් එක ම පිළිගත යුත්ත ය යි සලකා පුනරුත්පත්තිය ස්වීකාර නො කරන්නාහු නම්: එය යුක්ති යුක්ත නො වේ.

[3] තමන්ට නො පෙනෙන හේතුවෙන් ඒ ඇස් ආදිය ඔහුට නැතැ යි කිසිවෙකුට නො කිව හැක්කේ ය. චක්ෂුරාදි ඉන්ද්‍රිය සමූහයාගේ ප්‍රමේයත්වය සිද්ධ කිරීම සඳහා ශාස්ත්‍රාදි සෙසු ප්‍රමාණ-යන් අවශ්‍යයෙන් ම පිළිගැනීමට සිදු වන්නේ ය.

[4] ඇසේ ගෑ අඳුන් ඇසට ම නො පෙනේ. ඉතා උස් අහස්හි පියාඹන සතා ද නො පෙනෙයි.

[5] ලඟින් ගිය කෙනෙකු මා නුදුටුවෙහි ද යි ඇසූ විට, සිත වෙනතක යොමු වී තිබුණ හෙයින් නුදුටු වෙමි යි කියන්නාක් මෙනි.

[6] කොල්ළු ගොඩකට කොල්ළු ඇටයක් මිශ්‍ර කළ තැනැත්තාට ඒකාකාර නිසා තමන් දමූ ඇටය අඳුනා ගත නොහැකිවාක් මෙනි.

වශයෙන් හෝ අපත්‍ය රූප ව උපදී ද ? ඉදින් සම්පූර්ණයෙන් හෝ අවයව (කොටස්) වශයෙන් හෝ සම්පූර්ණ ආත්මය ම අපත්‍ය රූපයෙන් සංචරණය වූයේ නම්, එකෙණෙහි ම පියා ගේ හෝ මව ගේ හෝ මරණය වන්නේ ය. දෙමාපියන් ගේ ආත්මයේ අවයවයෙක කොටසෙකින් අපත්‍ය උත්පත්තිය ද නො විය හැක්කේ ය; සූක්ෂ්ම සහ අතරක් නැති ආත්මයාගේ අවයවයක් නැති හෙයිනි.[1]

(දෙමාපියන් ගේ) බුද්ධිය හෝ චිත්තය හෝ අපත්‍ය ස්වරූපයෙන් සංචරණයෙහි සමත් නොවේ. ආත්මය මෙන් ඒවා ද සියුම ය යි නිර්ණය වූ හෙයිනි.[2] මව් පිය දෙදෙන ම උත්පත්තියට කාරණ වෙති යි යම් කෙනෙක් කියත් ද, ඔවුන් ගේ මතයෙහි සත්වෝත්පත්තිය පිළිබඳ ව (ජරායුජ, අණ්ඩජ, ස්වේදජ, උද්භිජ්ජ යන) චතුර්විධ යෝනියක් නො ඇති විය හැක්කේ ම ය. එනමුත් ප්‍රාණිජන්ම විෂයයෙහි ජරායුජාදි යෝනි සතර ඇත්තේ ම ය. මේ සියු වැදෑරුම් යෝනි අතුරින් ස්වේද, උද්භිද් යන යෝනි දෙකින් උපදනා ප්‍රාණීන් සමඟ මව්පියන් ගේ සම්බන්ධයක් නැත්තේ ය. එහෙයින් මව් පිය දෙදෙනා ජන්මකාරණ ය යි කියන්නන් ගේ මතය සම්පූර්ණයෙන් ම යුක්තිවිරෝධ ය.

## තවත් විස්තර

සත්ත්වෝත්පත්තිය පිළිබඳ ව ස්වභාවය ම කාරණ ය යි පවසා, ආත්ම, පරලෝක, පුනර්ජන්ම යන මොවුන් යම් කෙනෙක් නො පිළිගනිත් ද ඔවුන් ගේ මතය ද යුක්ති විරෝධ බව මෙහි නිර්දේශ කරනු ලැබේ :—

පඤ්චමහා භූත, ආත්ම යන හය, සත්ත්වෝත්පත්ති විෂයයෙහි කාරණා වෙයි. දේවාසුරාදි ප්‍රාණි සමූහයා කෙරෙහි මෙකී සවැදෑරුම් ධාතූන් ගේ ම ස්වලක්‍ෂණ දක්නා ලැබෙන හෙයිනි.[3]

ආත්මය චේතනාධාතුව ලක්‍ෂණ කොට ඇති හෙයින් එය ම, මනස, පඤ්ච මහාභූත, ඉන්ද්‍රිය යන මොවුන් ගේ සංයෝගයෙන් චෛතන්‍යාදිය සිදුකරන්නෙක් වන්නේ ය. එහෙයින් ආත්මයෙන් තොර ව හුදෙක් පඤ්චමහාභූතයන් කරණ කොට ගෙන සත්වගණයා විෂයයෙහි චෛතන්‍යාදි කර්ම සමූහය ඇති වේ ද ? පඤ්චමහාභූතයන් ගේ නැවත නැවත සංයෝගය සහ විභාගයෙහි හෙවත් දේව නරාදීන් නිර්මාණය කිරීම් විෂයයෙහි ලා, ඒ පඤ්චමහාභූතයන් ගේ ක්‍රියාවෝ ම කාරණ ය හ යි කියතහොත් : එය යුක්තියුක්ත නො වේ. පඤ්චමහාභූතයන් කෙරෙහි ක්‍රියාවත් බවක් ඇතත්, අචේතනික හෙයින් චෛතන්‍යයට කාරණා වූ

[1] මෙසේ ආත්මයාගේ අල්පාංශයෙකිනුදු අපත්‍යජන්මයක් විය නො හැක්කේ ම ය.

[2] මෙසේ පියා ගේ හෝ මව ගේ බුද්ධිය හා මනස අවයව වශයෙන් අපත්‍ය ස්වරූපයෙහි සංචරණය නො කෙරේ. සම්පූර්ණ භාවයෙනුත් අපත්‍ය ස්වරූපයෙන් නො උපදී. එසේ වුව හොත් : පියාට හෝ මවට එකෙණෙහි ම නිර්බුද්ධික වැ නිර්මනස්ක වන්නට සිදු වන හෙයිනි. මෙසේ එය ද යුක්ති විරුද්ධ ය. අනෙක් යුක්ති විරෝධයෙක් ද වේ. හෙ ද මතු දක්වේ.

[3] යම් ධාතුවක යම් ලක්‍ෂණයක් පහළ වේ ද, එය ඒ ධාතුහු ගේ ස්වභාව ජනිත ලක්‍ෂණය (ස්වලක්ෂණය) යි දන්නේ ය. යම් ධාතුවක යම් ස්වභාව ජනිත ලක්‍ෂණයක් වේ ද, ඒ ධාතුව එය මුත් අනෙකක් ප්‍රකාශ නො කරන්නේ ය. ආකාශධාතුව ශ්ලක්ෂ්ණ, සූක්ෂ්ම, මෘදු, ලඝු හා විවික්තාදි ගුණ යුක්ත හෙයින් මාර්දව, ශෞෂිර්‍ය, ලාඝවකර යන ලක්‍ෂණ සමූහය මුත් අචේතනික හෙයින් චෛතන්‍යාදිකාරක ලක්‍ෂණ ප්‍රකාශ නො කරන්නේ ය. වායුධාතුව සූක්ෂ්ම, ඛර, ශීතල, ලඝු, විශද යනාදි ගුණ යුක්ත හෙයින් වෛශද්‍ය, ලාඝවාදිකර ලක්‍ෂණ මුත් අචේතනික හෙයින් චෛතන්‍යාදිකර ලක්‍ෂණ පහළ නො කරන්නේ ය. මෙපරිද්දෙන් ම තේජස්, අප් සහ පෘථිවි යන ධාතුහු ද තම තමන් අයත් ස්වලක්‍ෂණ සමූහය මුත් අචේතනික හෙයින් චෛතන්‍යාදි ලක්‍ෂණ ප්‍රකාශ නො කරන්නා හ.

ආත්මයෙන් තොර ව කැමැත්ත පෙරදැරි ව කිසිම ක්‍රියාවක් කිසි කලෙකත් ඇරඹීමට සමර්ථ නොවන හෙයිනි.[1] එනමුත් කර්‍මයාගේ ද කර්‍මාරම්භකත්වයක් නැත්තේ ය. එහෙයින් ආත්මයෙහි පිහිටි පඤ්චමහාභූතයෝ ස්වකීය කර්‍මයන් කරණ කොට ගෙන සංයෝගය විභාග කොට සචේතනික දේවනරාදි ප්‍රාණීන් ඉපදවීමට සමර්ථ නො වන්නාහ. එහෙයින් ස්වභාවවාදීන් ආත්මය, පරලොව හා පුනරුත්පත්තිය නො පිළිගෙන ස්වභාවය ම උත්පත්තියට කාරණා ය යි කීම ඒකාන්තයෙන් ම යුක්තිවිරෝධ වේ[2].

චේතනාධාතුව නිත්‍ය ය ; එහි ආදියක් නැත, එය ම ආත්මය යි. එම නිත්‍ය පදර්ථයාගේ පරනිර්‍මාණයක් කිසි කලෙකත් ඇති නො වේ. විශේෂයෙන් ඒ පර (ප්‍රධාන) පුරුෂයා චෛතන්‍යාදිය උපදවන කෙබඳු උපාදනයෙකින් චෛතන්‍යාදිය උපදින ආත්මය නිර්‍මාණය කෙරේ ද ? අචේතනික භූතපදර්ථයෝ ද කිසි කලෙක චේතනික වස්තු නිර්මාණයට සමර්ථ නො වෙත්. තවද තමන් ආත්මයක් නො වත් මැ '' පර '' පුරුෂයා චේතනික වන්නේ කෙසේ ද ? ඉදින් ඒ පුරුෂයා ම ආත්මය ය, මවන්නාත් ඔහු ම ය යි කියන්නෙහි නම්: පර නිර්මිත ජන්මයට කාරණය එයම වේවා![3]. යදෘච්ඡාවාදය ද යුක්තිවිරෝධ බව දක්වනු ලැබේ.

යදෘච්ඡාවාදි නාස්තිකයින් ගේ මතය පරිදි පරීක්‍ෂාවක් (ප්‍රමාණයක්) නැත· එහෙයින් පරීක්‍ෂ්‍යයකුත් (ප්‍රමෙයයකුත්) නැත. දෙව්ලොව, නිරය ආදිය ලබන කර්‍මයකුත් නැත. දෙව්ලොව නිරය ආදිය අත්වන ශුභාශුභ කර්‍ම ඵලයකුත් නැත. මවන්නෙක් නැත. සෘෂ්ටියට කාරණා ද නැත. කාරණාභාවය හේතු කොට ගෙන ශුභාශුභ කර්‍මයන් ගේ ද අභාවය වන හෙයින් දේව, ඍෂි, සිඬාදීන් පිළිබඳ ව පූජ්‍යාපූජ්‍ය විශේෂයෙක් ද නැත. ආත්මයකුත් නැත්තෙන් පරලොව ගොස් දුක් විඳින්නෙක් ද නැත්තේ ය[4]. යම් කෙනෙක් සමහර තන්හි දී කාර්‍ය්‍ය, කාරණ දෙකට ගැළපෙන සේ (අනුරූප ව) ක්‍රියා සම්පාදනය කෙරෙත් ද, සෙසු තන්හි දී තමන් අභිමත දේ කෙරෙත් ද, ඔවුන් ගේ මේ නාස්තික්‍යයට වඩා අධිකතර පාපයක් තවත් නැත්තේ ය. එහෙයින් අධර්‍මගාමි වූ මේ නාස්තික මතය හැර බුද්ධිමත් තෙම සත්පුරුෂයන් ගේ බුඬිස්වරූප වූ ආලෝකයෙන් සියල්ල දර්‍ශනය කරන්නේ ය.

---

[1] මද්‍යකාරක උක්සකුරු ආදියේ සංයෝගයෙන් මදශක්තිය ඇති වන්නාක් මෙන්, පඤ්චමහාභූතයන් ගේ සංයෝගයෙන් මදශක්තිය මෙන් යම් කිසි විශේෂ ශක්තියක්හු ගේ ඉපදීමෙන් එම ශක්තිහු ගේ කාර්යකාරිත්වයක් (ප්‍රාණිජන්මය පිළිබඳ ව) ඇතැයි කියතහොත් : එය ද යුක්තියුක්ත නො වේ. මක්නිසාද ? ස්වකීය ජාතික වූ ආරම්භකත්වය ඇත්තේ ද්‍රව්‍ය හා ගුණ විශේෂයෙහි ම ය. (ද්‍රව්‍යය අන්‍ය ද්‍රව්‍යයක්හු ගේ හෝ ගුණය ගුණාන්තරයෙක්හු ගේ හෝ ආරම්භකයෙකු නො විය හැක්කේ ය.)

[2] ස්වභාවය පමණක් ජන්මකාරණ නුවූ ව ද, පරනිර්මාණය (අනෙකෙකු ගේ මැවීම) සත්ත්වෝත්පත්තියට කාරණ ය යි පරනිර්මාණවාදීහු කියත්. පර සංඥක වූ යම් කිසි අමිතසංකල්ප විශිෂ්ට පුරුෂයෙක් ඇත, ඔහු නිර්මාපකයා (මැවුම්කරු) ය යි කියත්. තවද ඔහු (මවන්නා) ම තමන් කැමැති පරිදි මනස හා සිරුර නිර්මාණය කරයි, එසේ ම කැමති කැමති තන්හි ආත්මයන් මවා ලයි. එහෙයින් මරණින් මතු පරලොව ගොස් භෝග කාලාවසානයෙහි නැවත පුනරුත්පත්තියට පැමිණෙන නිත්‍ය වූ ආත්මයක් ද නැත. පරනිර්මාණවාදීන් ගේ මේ මතය ද යුක්තිවිරෝධ යැ.

[3] ආත්මය නිත්‍ය යැ, ආත්මය ම සුදුසු කාලයෙහි ස්ථූල ශරීරය හැර මෙලොවින් පරලොව යන හෙයිනි. එසේ ම එහි දී කළ කර්‍මහි ඵල විඳ, අවසානයෙහි නැවතත් ජන්මග්‍රහණය කරන හෙයින් ද වේ. මෙසේ ආත්මය නිත්‍ය යි. කර්ම හා කර්මඵල හා පුනරුත්පත්තිය ද ඇත්තේ ම ය යනු ටීකා පාඨ යි.

[4] යදෘච්ඡාවාදීහු අතිශයින් නින්‍දනීයයෝ වෙත්. ඔවුන් ගේ වාක්‍යගත යදෘච්ඡාවාදයක් මුත් ක්‍රියාගත යදෘච්ඡාවාදයක් නැත. කර්ම හා කර්මඵල නැතැ යි කියන ඔවුහු මව, දියණිය, සොහොයුරිය බිරිය යන මොවුන් පිළිබඳ ව මාතෘත්වාදිය දක්වෙන සේ හැසිරෙත්. එහිදී යදෘච්ඡා ආචාර නො කෙරෙත්.

## සත් අසත්

5. සචේතනික, අචේතනික යනුවෙන් කියනු ලබන්නා වූ ලෝකයෙහි ඇති සියල්ල සත්, අසත්[1] භේදයෙන් දෙවැදෑරුම් වේ. ඒ සත් අසත් දෙක ආත්ම කොට ඇති ලෝකයා ගේ පරීක්‍ෂා හෙවත් පරීක්‍ෂණ හේතුව ආප්තෝපදේශ, ප්‍රත්‍යක්‍ෂ, අනුමාන, යුක්ති යන විසින් චතුර්විධ වේ. යම් කෙනෙක් තපෝබලයෙන් ලබනලද තත්ත්‍වඥනය කරණ කොට ගෙන රජඃ, තමඃ ගුණයන් ගෙන් මිදුණාහු ද, එසේ ම තුන්කල් දන්නා වූ අව්‍යාහත නිර්මල නැණින් හැම කල්හි ම යුක්ත වූවාහු ද, සමාධිසම්පන්න වූ ඒ මහර්ෂීහු ම ආප්ත, ශිෂ්ට, විබුධ යන නම්වලින් අභිහිත වන්නාහු ය. ඔවුන් ගේ වචනය සැක රහිත ය. ඔවුහු සැම කල්හිම සත්‍යය කියත්. රජස් තමස් ගුණ හීන හෙයින් කිසි කලෙකත් බොරු නො කියති.

## ප්‍රත්‍යක්‍ෂය

6. ආත්මය, ඉන්ද්‍රිය, මනස, (රූප රසාදි) ඉන්ද්‍රියාර්ථ යන මොවුන් ගේ සංයෝගයෙන් ඒ කාලයෙහි ප්‍රකට වන බුද්ධිය ප්‍රත්‍යක්‍ෂ නමැ යි කියනු ලැබේ.

## අනුමානය

7. යමක් ප්‍රත්‍යක්‍ෂ වූ දේ පෙරදැරි කොට ඇත්තේ ද (යමක් පූර්වයෙහි ප්‍රත්‍යක්‍ෂ කරන ලද දෙයට අනුව සලකාගනු ලැබේ ද) එය අනුමානය යි. (කාරණානුමාන, කාර්‍යානුමාන, සාමාන්‍යදෘෂ්ට අනුමාන යන විසින්) අනුමානය ත්‍රිවිධ වේ. අතීත, වර්තමාන, අනාගත යන තුන්කල්හි ම ප්‍රත්‍යක්‍ෂ පූර්වක වූ අනුමානය අනුමේය වෙයි. දුම දැකීමෙන් නො පෙනෙන්නා වූ, වර්තමාන වූ, සැඟවුණා වූ ගින්න ද, ගර්භය දැකීමෙන් අතීත මෛථුනය ද, බීජ දැකීමෙන් අනාගත ඵල ද, අඹ ආදි යම් ඇට වර්ගයකින් යම්බඳු ඵලයෙක් වී ද, එබඳු ඇටයෙකින් එබඳු ම ඵලයක් හටගන්නා බව ද අනුමාන කරනු ලැබේ.

## යුක්තිය

8. යම් සේ ජලය, සී සෑම, බීජ, ඍතු යන මොවුන් ගේ සංයෝගයෙන් ශස්‍ය-යන් ගේ හටගැනීම වේ ද, යම් සේ (පඤ්චමහාභූත ආත්ම යන) ෂඩ්ධාතූන් ගේ සංයෝගයෙන් ගර්භය හටගනී ද, තවද මන්ථක පුරුෂයා විසින් කාර්‍යයෙහි යොදවූ දඬු දෙක්හි මන්ථනය හේතු කොට ගෙන යම් සේ ගිනි උපදී ද, එසේ ම භිෂගාදි චතුෂ්පාද යුක්තියුක්ත වූ කල්හි ව්‍යාධීන් ගේ විනාශය සැලසේ.

යම් බුද්ධියක් නො දන්නා ලද විෂයයන් ගේ සැබෑ තත්ත්‍වය දැනගැනීම පිණිස බොහෝ කරුණුවලින් හටගත් විෂයයන් දකියි (බලයි) ද, ඒ බුද්ධියට යුක්ති යයි කියනු ලැබේ. අතීත, වර්තමාන, අනාගත යන කාලත්‍රය පිළිබඳ විෂයයන් ගේ ආලෝචනානුසාරයෙන් යුක්තිය ද ත්‍රෛකාලික වේ, එයින් ධර්මාර්ථකාම යන ත්‍රිවිධ සම්පත් සාධනය ද වේ.

## පරීක්‍ෂා

9. ආප්තෝපදේශ, ප්‍රත්‍යක්‍ෂ, අනුමාන, යුක්ති යන සතරම පරීක්‍ෂා යයි කියනු ලැබේ. එයින් තොරව අන්‍ය පරීක්‍ෂාවක් නැත. මේවායින් සත් අසත් සියලු විෂයයන් පිළිබඳ ව පරීක්‍ෂණය සිදු වේ. එසේ ම පුනරුත්පත්තිය ඇති බව පරීක්‍ෂණයෙන් ම දනේ.

---

[1] සත්-භාවාත්මක. අසත්-අභාවාත්මක.

## ආප්තාගමය

10. වේදයට ආප්තාගමය යි කියනු ලැබේ. එයින් බැහැර වූ වේදාර්ථයට අවිපරීතවූ ද, පරීක්ෂක පඬිවරයන් විසින් කරනලද්ද වූ ද, ශිෂ්ට ජනයා විසින් අනුමත කරන ලද්ද වූ ද, ලෝකානුග්‍රහය පිණිස පවත්නා වූ ද සියලු ශාස්ත්‍රවාදය ම ආප්තාගම නමින් හඳුන්වනු ලැබේ. දානය, තපස, යාගය, සත්‍යය, අහිංසාව, බ්‍රහ්මචර්යාව යන මේ සියලු කාර්යයෝ අභ්‍යුදයාගේ හෙවත් මෙලොව සැප හා ස්වර්ගප්‍රාප්තිහු ගේ සහ මෝක්ෂයාගේ සාධනය සිදු කරන බව ආප්තාගමයෙන් දත හැකි ය. රජෝගුණ හා තමෝගුණ නො වැළකීමෙන් චිත්තශුද්ධියක් නො වූවන්ට මෙකී දානාදි ධර්මකාර්ය කරණ කොට ගෙන පුනර්ජන්මයක් නො වන්නේ ය යන මෙබඳු උපදේශයක් නිර්දෝෂ වූ ආප්ත උත්තමයන් විසින් නො දෙනු ලැබේ[1]. නිතර පුණ්‍යක්‍රියාවන්හි නිරත වූ, භය, රාග, ද්වේෂ, ලෝභ, මෝහ, අභිමාන යන මොවුන් ගෙන් වෙන් වූ, බ්‍රහ්මපරායණ වූ, යාගාදි කර්ම දන්නා වූ, නො පහරන ලද මනෝගති හා බුද්ධිශක්තිය ඇත්තා වූ ආප්ත මහර්ෂිහු දිව නෙත්වලින් දක පුනරුත්පත්තිය ඇති බව ප්‍රකාශ කළාහු ය.

## ප්‍රත්‍යක්ෂ ප්‍රමාණ

11–12. පුනරුත්පත්තිය පිළිබඳ ප්‍රත්‍යක්ෂ ප්‍රමාණ ද විද්‍යමාන වේ. ඒ මෙසේ ය :—ඇතැම් තන්හි දරුවා මව් පිය දෙදෙනාට සමාන වූ අවයව ඇත්තෙක් නො වේ. එක ම දෙමව්පියන් ගෙන් උත්පත්තිය ලැබුව ද, ඔවුනොවුන් ගේ වර්ණය, ශබ්දය (ස්වරය), ආකාරය, සිත, බුද්ධිය හා භාග්‍යය ද පිළිබඳ ව වෙනස් කම් ඇති වේ. ඇතැමෙක් උසස් කුලයෙහි ද, ඇතැමෙක් පහත් කුලයෙහි ද උපදී. ඇතැමෙක් දසකර්මය කොට ද, ඇතැමෙක් ඉසුරුමත් ව ද ජීවත් වේ. ඇතැමෙක් සැපවත් ද ඇතැමෙක් දුඃඛිත ද වේ. ඇතැමෙක් දීර්ඝායුෂ්ක ද, ඇතැමෙක් අල්පායුෂ්ක ද වේ. මෙහි දී නො කරන ලද දෙයට විපාක ලැබීම, ඉගැන්වීමක් නොමැති ව එකෙණෙහි උපන් ළදරුවා ගේ හැඬීම, තනකිරි බීම, සිනාසීම හා තැතිගැනීම් ආදියට පැමිණීම, සමාන කර්ම ඇතත් ඵලයාගේ විෂමත්වය, සමහර කාර්යයන්හි බුද්ධිය ප්‍රකාශ වීම හා සමහර කාර්යයන්හි එසේ නො වීම, මෙලොවින් චුත වූ සත්ත්වයා ජාතිස්මරණ ඥානය ලැබ නැවත මෙලොව ඉපදීම, සමාන වස්තූන් සම්බන්ධයෙන් එකකට ප්‍රියවීම හා අනිකකට අප්‍රියවීම යන මේ ලකුණු ද උපදින බව දක්නට ලැබේ. එහෙයින් පෙර ජාතියේ දී තමන් විසින් කරන ලද කර්ම සමූහය නො වැළැක්විය හැකි බව ද, නො නැසෙන බව ද අනුමාන වේ. මේ දෛව නමැ යි ලෝකයා විසින් කියනු ලැබේ. තවද එය ජන්මාන්තර අනුබන්ධ කර්මය ද වේ. එහෙයින් පෙර කියන ලද අසම දරුවන් ලැබීම් ආදි විෂමතා සමූහය ඒ පූර්වදෛහික කාර්යයන් ගේ ම ඵලානුසාරයෙන් සිදු වේ. මෙසේ ම මෙලොව දී කළ කර්මයන් ගේ ඵල ද, ඊළඟ උත්පත්තියේ දී පහළ වේ. ඒ කෙසේද :— ඵලයෙන් බීජය ද, බීජයෙන් ඵලය ද වන බව අනුමාන වන්නාක් මෙනි. පුනරුත්පත්තිය සම්බන්ධයෙන් යුක්තිය ද මෙසේ ම දක්නට ඇත්තේ ය. කර්තෘ, කරණ දෙදෙනා ගේ සංයෝගයෙන් ක්‍රියා සිද්ධිය වන්නාක් මෙන් ජීවාත්මය හා පඤ්චමහාභූත යන ෂඩ්ධාතූන් ගේ සමවායයෙන්

---

[1] රාජස තාමසාදි ගුණවලින් තොර වූ, ලෞකික වූ ඇල්මක් නැති එකී දානාදි දහම් කිරියෙහි යෙදුණවුන්ට ම මෝක්ෂය අත් වේ. එනමුත් රජස් තමස් දෙකින් නො මිදී ඒ දානාදි ධර්මකාර්ය කරන්නවුනට මෝක්ෂය අත් නො වී මෙලොව සැප හා පරලොව ස්වර්ග සැප ද අත් වේ.